# තැත්වුණු හිරු



කෝර්නෙයි චුකොව්ස්කි

කෝර්නෙයි චුකොව්ස්කි

# නැතිවුණු හිරු





හිරු කුමරිය නිල් අහසේ - රැස් පතුරා බැබළුණා
කන්ද උඩින් පාවී ආ - වලාකුළට සැඟවුණා
කැලි කපා ගත හැකි තරමට කළුවර පැතිරුණා
හා පැටියා ජනේලයෙන් - එබිකම් කර බිය වුණා

වෙල්වල සිටි බට්ටිච්චෝ - බිය වැදිලා නද දෙන්නා
ගස්වල ලැගි පොල්කිච්චෝ - දස අතට ම ඉගිලෙන්නා
මඩ කනයින් අහුලා කන - කණ කොක් රැළ අමතන්නා,
කිඹුල් මොටෙක් හිරු කුමරිය - ගිල ගත් බව පවසන්නා





ඇහැට ඇඟිල්ලෙන් ඇන්නත් - නොපෙනෙන තරමට අඳුරුයි
ගෙදරින් එළියට බැස්සොත් - මං මත් වන බව සිකුරුයි!

අභිසංක බටිච්චා - සෝදුකින් හඬනවා
හිරු කුමරි අමතමින් - උගේ දුක කියනවා:
"කෑම අහුලා කන්ට - කළුවරේ අපහසුයි,
හිරු එළිය පොදක්වත් ලැබෙනවා නම් අගෙයි"

දොළ ළඟ නිල් තණ පිට්යේ - ලැට් ගාන සුදු හාවෝ
ගෙවල් කරා යා නොහැකිව - එක පොදියට ගුළි වූවෝ.





වපරැස් ඇති රතු කක්කුටු නයිදේ,
නියර දිගේ තම ගුල වෙත් ඇද්දේ.
වෘක පැටවු නඟනා ඒ සද්දේ,
ගොදුරක් වට කරගෙන යම යුද්දේ!



බැටළු නාම්බෝ දෙදෙනෙක් දුර සිට,
ආවා කැළයේ දොරටුව ගාවට,
සැම දෙන කැඳවා මැද තණ පිටියට,
ගැඹුරු හඬින් උන් කීවා මෙලෙසට:

"යාළුවනේ, එළියට බැහැපල්ලා!
කිඹුල් මොටා තද කර ගනු අල්ලා!
ඇතිවන්නට ගුටි බැට දීපල්ලා!
හිරු කුමරිය අරගෙන දුවපල්ලා!"

"කිඹුලා නපුරෙකි, දිග උල් දත් ඇති,
හිරු කවදාවත් අප හට නොලැබෙති!"
එහි රැස් වූවෝ මේ ලෙස පවසති,
බියගුල්ලෝ, උන් සටනට අකමැති!

වන මැද වසනා වලසා හමුවට,
සැම දෙන දුව ගොස් පවසති මෙලෙසට:
"කම්මැලි රාළේ පය ලෙව කන්නට,
හැකි වෙයි අපෙ හිරු ආපසු ගත් විට!"

හැඩි දැඩි සවිමත් සිරුරක් තිබුණට,
වලසා නොකැමැත්තෙකි මේ සටනට,
සිතිවිල්ලේ ඇවිදියි වට රවුමට,
කොහොමත් බැහැ තීරණයක් ගන්නට!



වනයේ මං මත් වූ දරු පැටවුන්,
සොයමින් ඌ ඇවිදියි දුක කියමින්.

වලස් හාමිනේ ගස් ගල් පෙරළයි,
වලස් පැටවුන් සොයමින් දුව යයි
දරු දුක ඇති වී දරුවන් අමතයි,
මුළු කැලයම ඈ උඩ යට පෙරළයි!



“මගෙ දරු පැටියෝ කෙහෙදෝ ඉන්නේ?
මේ දුක කොහොමද මා ඉවසන්නේ?

වළකට වත් වැටිලාදෝ නොදනිමි!
ගලකට යට වී යැයි මං නොසිතමි!
දඩ බල්ලන් සැපුවා දැයි බිය වෙමි!
බඩගිනි නොතකා දරුවන් සොයනෙමි!”

මුළු දවස ම වැලහින්න සෙවිල්ලේ,
ඇවිදියි බලමින් හැම අහුමුල්ලේ.
නොකා නොබී පසුවෙයි ළතැවිල්ලේ,
කෙසේ සිටින්න ද ඈ සැනසිල්ලේ?

මුළු වනය ම ඈ පීරා බැලුවා,
එක පැටවකුවත් දක්නට නැතුවා!
පීරිසි වැනි මහ කළු ඇස් ඔරවා,
බස්සෝ වැලහින්නිය බය කෙරුවා!





හා නයිදේ ගුලකින් හිස ලෑවා,
වලසා අමතා ඌ මේ ලෙස කීවා:

"හාවකු මෙන් කුමකට වැලපේදෝ?
ඔබ වලසකු බව අමතක වීදෝ?

වංගෙඩි කුකුලෝ දුවලා පලයන්!
කිඹුල් මොටාගේ ඇඟට ම පැනපන්!

ඌ බිම පෙරළා බඩ සූරාපන්!
වලිගෙන් අල්ලා පොළොවේ ගහපන්!

දිග දත් ඇති හකු දෙපසට ඇදපන්!
දත් අතරින් හිරු එළියට අර ගන්!
හිරු කුමරිය විගසින් බේරා ගන්!
දැක ගන්නට හැකිවෙයි නුඹෙ දරුවන්!"

වලසා පරුවත ඇඟ සොළවා,
වනපෙත හෙළවෙන්නට කෑගැසුවා!
ගස්වැල් පීරා ගඟ වෙත දිව්වා,
ගඟ අද්දර සොර කිඹුලා සෙව්වා!



කිඹුලා ගං ඉවුරේ නිවි හැල්ලේ,
සැප නින්දක වැටිලා සුදු වැල්ලේ,
දත් අතරින් පැහැයට ගිනි දැල්ලේ,
බැබැලෙයි හිරු හඳු පාඩා මුල්ලේ!

හිමින් සීරුවේ බැස ගං ඉවුරට,
වලසා ආවා කිඹුලා ගාවට.

නොබියව කිඹුලගෙ ඇලයට ඇන්නා,
බියකරු හඬකින් උඹ මොර දුන්නා:

"තක්කඩි කිඹුලෝ මා දෙස බලපන්!
හොරකම් කළ හිරු ආපසු දීපන්!
නැති නම් හොඳ හැටි අල්ලා බෙල්ලෙන්,
පෙරළා දමනව පහළට කන්දෙන්!

මතක හිටින්නට පහරක් දෙන්නම්!
හොරකම් කරනා හැටි පෙන්වන්නම්!
නැවතත් නොකරන් මේ වගෙ මැරකම්!
උඹෙ මේ සෙල්ලම්, හැමට ම ලෙල්ලම්!"

"හා! හා! හා!" කිඹුලා ගෙරවූවා,
කඳුළු වැටෙන තුරු කොක් හඬ ලෑවා.

"දැනුමුතුකම් දෙන්නද නුඹ ආවේ?"
හඳත් ගිලින බව ගොරවා කීවේ.



ඉවසීමේ සීමාවත් පැන්නා,
වලසා කිඹුලගෙ හොම්බට ඇන්නා,
බෙල්ලෙන් අල්ලා වැල්ලෙහි ඇන්නා,
හිරු දෙන තුරු උගෙ පිට උඩ උන්නා.

කිඹුලට වැඩ වරදින බව දැනුණා,
උගුරේ කෙළ ටික එතැන ම හිඳුණා,
සීතල ඩහදිය බිඳු පැන නැගුණා,
හොර කිඹුලට දහවල් තරු පෙනුණා!

දත් ඇඳි අතරින් රන්වන් පාටින්,
දිලිසෙන හිරු නිල් අහසට නැගුණා.
ගස්වැල් අතරින් එන රැස් දහරින්,
මුළු පෙදෙස ම හිරු එළියෙහි ගිලුණා.



සැරදේ! සැරදේ!
හිරු කුමරිය, ඔබ මුළු ලෝ පිබිදෙව්වා!
සැරදේ! සැරදේ!
නිල් ගුවන් තලේ ඔබ සැමදා වැජඹේවා!

ගිරා, මලිතී ගී නාදය හැම තැන
රැව් පිළි රැව් දුන්නා!
නැටුම් ගැයුම් ගී තාලෙන් සැම දෙන
සතුටින් ඉපිලෙන්නා!

බළල් පැටව් මෙන් සිඟිති සිහින්,
වලස් පැටව් එති උඩ පනිමින්,
තුරුලට වැදිලා හරි සතුටින්,
නැලවෙති සුරතල් බස් දොඩමින්.

වලස් අම්මා බැහැ දකින්නට,
කැලේ හැම සතකු ම ඇවිල්ලා,
වලස් හාමිට තෑගි දෙන්නට,
ලොකු ම මී වදයක් ගෙනල්ලා!

